# ජාතිභේද ආගම්භේද දුරු කොට එක්සත් ශ්‍රී ලංකාවක් ඇති කරමු

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

ශ්‍රී ලංකා ජනරජයේ මුදල් අමාත්‍ය මාහාචාර්ය පීරිස් මැතිතුමාණෙනි, ඔබතුමා සිදුකරන්නේ ඉතා භාරදූර කාර්යයෙකි. ඒ ගැන ඔබතුමාට අනේක වාරයක් ප්‍රශංසා කරමි. ආශිර්වාද කරමි. ඒ අතර ම කලාපීය රාජ්‍යයක් ගැන ද කටයුතු කරන බව ද දැන ගන්නට ලැබුණා.

මේ ජාතික විනාශයෙන් ශ්‍රී ලංකාව බේරා ගන්නට තිබෙන එකම මඟ පනත රාජ්‍ය සභාවට ඉදිරිපත් කළ අවස්ථාවේ දී ඡන්දය නොදී සිටීම යි. ආරක්‍ෂා කර ගතයුත්තේ සිංහලයනට තිබෙන එකම රට ද? කලකට ලැබී තිබෙන මන්ත්‍රී ධුරය ද?

ඒ පනත සම්මත උණොත් තව අවුරුදු 25 ක් පමණ ගත වූ කල දකුණු ඉන්දියාවේ රජය පමණක් නොව ජනතාව සහය කරගෙන යුද කොට ශ්‍රී ලංකාව යටත් කර ගන්නට හොඳට ම ඉඩ ඇත. පහත සඳහන් කරුණු නුවණැසින් සලකා බලා දූරදර්ශීව කටයුතු කරන්නේ මැනැවි.

1. ශ්‍රී ලංකාව නවයකට බෙදා හැම කොටසකට ම පාලන බලය දුන් විට එක්සත් ශ්‍රී ලංකාවක් ඇති වන්නේ කෙසේ ද? මෙය බොහෝ දෙනා අසන ප්‍රශ්නයකි.
2. 1997 අගෝස්තු 23 වනදා යාපනේ සිංහල කඩ කඩා මහා කෝලහලයක් පටන් ගත්තා. එයින් සිංහලයන් 23,000 ක් අනාථ වුණා. ඒ අය නැවත පදිංචි කරනවා ද ?
3. උතුරේත් නැගෙනහිරත් පුරාණ බෞද්ධ විහාර 273 ක නෂ්ටාවශේෂ තිබෙනවා. යාපනේ පමණක් මහා විහාර 21 ක් තිබුණා. ඒවාට සිදු වුයේ කුමක් ද?
4. ඔවුන් ඇඳගෙන තිබෙන ඊලාම් සිතියම අනුව ශ්‍රී ලංකාවේ මුහුදු වෙරළින් තුනෙන් දෙකකට ආසන්න කොටසක් අසිංහලයන් සතු වේ. එසේ වුවත් ශ්‍රී ලංකාවේ ධීවර කර්මාන්තයෙහි යෙදී සිටින සියයට 74 ක් වු සිංහලයන් අතර සිටින ලංකාවේ ධීවර කාර්මිකයින් ගේ තත්ත්වය කෙබඳු ද?
5. අළුත් ක්‍රමය අනුව උතුරත් නැගෙනහිරත් අසිංහලයන් අතට පත් වුණොත් සිංහලයන්ගේ රටෙහි අනාගත සිංහලයන් ජීවත් වන්නේ කොහි ද?
6. අලිමංකඩත් වව්නියාවත් අතර තිබෙන ප්‍රදේශය ත්‍රිවිධ හමුදා ගම්මානයක් කොට එයට උවමනා කරන පාසල්, රෝහල්, කඩසාප්පු ඇති ආරක්‍ෂක ප්‍රදේශයක් කිරීම කාටත් සුරක්‍ෂිතව වාසය කිරීමට මාර්ගයක් නොවන්නේ ද?
7. අලිමංකඩත් වව්නියාවත් අතර තිබෙන වනාන්තරය මහගස් තිබිය දී ලඳු එළිකොට නළ ළිං සවිකොට ගොවිතැන් කරන ජනපදයක් පිහිටුවා ජනානුපාතයට සිංහල, දෙමළ, මුස්ලිම්, ජනයා පවුල් වශයෙන් පදිංචි කරවීම ජනතාව අතර සුහද වාසයට මහෝපකාරී වෙනවා ඇත.
8. මේ කරුණු සාමකාමීව සලකා බලා ක්‍රියාත්මක නොකොට කලාපීය රාජ්‍ය පිහිටෙව්වොත් උතුරු දිසාව සම්පූර්ණ දෙමළ රාජ්‍යයක් වෙනවා. ඉතිහාසය අනුව ආසන්න දෙමළ රාජ්‍යය සහාය කරගෙන මුළු ශ්‍රී ලංකාව ම ආක්‍රමණය කරනවා ඒකාන්ත යැයි කියන්නේ අපේ ඉතිහාසය හොඳින් සලකා ගෙන ය. එබඳු ආක්‍රමණ කොපමණ සිදු වුණේදැයි ඉතිහාසය අනුව සලකා බලන්න.

මෙම කරුණු සිහි නුවණින් සලකා බලා ඉහත සඳහන් අංක 6, 7 කරුණු නො පමාව ක්‍රියාත්මක කරන්නේ නම් මැනවි .

ඉරිදා ලංකාදීප 1997.09.21
ප්‍රඥාප්‍රභා 7

